55321



ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

# 2562 - දහම් පාසල් අවසාන සහතික පත්‍ර විභාගය - 2018(2019) 1 S

## (01) බුද්ධ චරිතය

පැ තුනයි

2019.03.16 /08.30 - 11.40

අමතර කියවීම් කාලය -මිනිත්තු 10 යි.

අමතර කියවීම් කාලය ප්‍රශ්න පත්‍රය කියවා ප්‍රශ්න තෝරා ගැනීමටත් පිළිතුරු ලිවීමේ දී ප්‍රමුඛත්වය දෙන ප්‍රශ්න සංවිධානය කර ගැනීමටත් යොදාගන්න.

මෙම ප්‍රශ්න පත්‍රය කොටස් තුනකින් සමන්විත වේ. යටත් පිරිසෙයින් එක් කොටසකින් එක් ප්‍රශ්නයක්වත් ඇතුළත් වන සේ තෝරා ගෙන, ප්‍රශ්න පහකට පමණක් පිළිතුරු සපයන්න.

### I කොටස

1. (i) මහාබ්‍රහ්මයා විසින් චතුර්වර්ණය මවන ලද ස්වකීය ශරීරයේ ස්ථාන හතර ලියා දක්වන්න. (ලකුණු 04 යි)
   (ii) බ්‍රාහ්මණ ධර්මයට අනුව පුද්ගල ජීවිතයේ චතුර් ආශ්‍රම ධර්ම නම් කරන්න. (ලකුණු 04 යි)
   (iii) ක්ෂත්‍රිය වර්ණයට හිමි ස්වධර්ම කෙටියෙන් විස්තර කරන්න. (ලකුණු 06 යි)
   (iv) 'චතුර් ආශ්‍රම ධර්ම බ්‍රාහ්මණ ආගමේ අධිකාරයකට වඩා සැලසුම් සහගත ජීවිතයක අවශ්‍යතාව කියා දෙන ඉගැන්වීමකි.' විචාරයට ලක් කරන්න. (ලකුණු 06 යි)

2. (i) බ්‍රාහ්මණ සමාජය තුළ කාන්තාවට නිසි තැන හිමි නො වුණු බව සනාථ කිරීමට කරුණු හතරක් පෙන්වා දෙන්න. (ලකුණු 04 යි)
   (ii) බුදුසමය තුළ කාන්තාවට නිසි තැන ලබා දුන් බවට සාධක හතරක් ඉදිරිපත් කරන්න. (ලකුණු 04 යි)
   (iii) භික්ෂුණී සමාජය තුළ කාන්තාව ලැබූ සැනසීම තෙරණී චරිත දෙකක් ඇසුරින් සාකච්ඡා කරන්න. (ලකුණු 06 යි)
   (iv) නූතන සමාජයෙහි කාන්තා හිංසනය පිටුදැකීමෙහි ලා ගත හැකි ක්‍රියාමාර්ග බෞද්ධ ඉගැන්වීම් ඇසුරින් පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

3. (i) බුද්ධකාලීන භාරතයේ ශ්‍රමණ සම්ප්‍රදාය නියෝජනය කළ නිගණ්ඨ සාධුවරයන් හඳුන්වන දෙයාකාරය හා එසේ හැඳින්වීමට හේතු පෙන්වා දෙන්න. (ලකුණු 04 යි)
   (ii) නිගණ්ඨ සාධුවරයන් අත්තකිලමථානුයෝගයෙහි යෙදෙමින් අනුගමනය කළ විවිධ ව්‍රතචර්යා අතුරින් හතරක් ලියා දක්වන්න. (ලකුණු 04 යි)
   (iii) නිගණ්ඨනාතපුත්ත ශාස්තෘතුමාගේ 'චතුයාම සංවර ශීලය' ලියා දක්වා, කේවලත්වය නම් විමුක්ති සුවය ලැබීමට එම ඉගැන්වීම හේතු වන අයුරු පෙන්වා දෙන්න. (ලකුණු 06 යි)
   (iv) අත්තකිලමථානුයෝගය නිර්වාණයට මග නො වේ යැයි බැහැර කළ සිද්ධාර්ථ බෝසතාණන් වහන්සේ අනුගමනය කළ ධර්ම මාර්ගය කෙටියෙන් විස්තර කරන්න. (ලකුණු 06 යි)

### II කොටස

4. (i) සිද්ධාර්ථ කුමාරෝත්පත්තිය, නම් තැබීම, වප්මගුල් උත්සවය, විවාහය හා ශිල්ප දැක්වීම යන අවස්ථාවල වැදගත් සිදුවීම් පෙන්වා දෙන්න. (ලකුණු 04 යි)
   (ii) සිදුහත් බෝසත් චරිතයෙන් අපට ගත හැකි ආදර්ශ හතරක් දක්වන්න. (ලකුණු 04 යි)
   (iii) සතර පෙරනිමිතිවලින් පෙන්නුම් කෙරෙන ජීවිත යථාර්ථය පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)
   (iv) සිද්ධාර්ථ බෝසතාණන් වහන්සේ සත්‍යාවබෝධය සඳහා අනුගමනය කළ ක්‍රියාමාර්ග කෙටියෙන් සාකච්ඡා කරන්න. (ලකුණු 06 යි)

[ දෙවැනි පිටුව බලන්න.

5. (i) බුදුසසුනෙහි ප්‍රථම ද්වේවාචික උපාසකවරුන් නම් කොට, ඔවුන් එසේ හැඳින්වීමට හේතු දක්වන්න. (ලකුණු 04 යි)

(ii) බුදුසසුනෙහි පළමු රහතන් වහන්සේලා අතුරින් සිවුදෙනෙකු නම් කොට, උන් වහන්සේලා රහත්භාවය ලැබීමට ශ්‍රවණය කළ සූත්‍ර දේශනා නම් කරන්න. (ලකුණු 04 යි)

(iii) පස්වග තාපසවරුන් සොයා ඉසිපතනයට වැඩම කරන බුදුරජාණන් වහන්සේ හා අතරමග මුණගැසුණු උපක ආජීවක අතර ඇතිවූ සංවාදය ලියා දක්වන්න. (ලකුණු 06 යි)

(iv) බුදුරදුන් විසින් සිදු කළ පළමු ධර්ම දේශනයේ ඇතුළත් ආර්ය අෂ්ටාංගික මාර්ගය ත්‍රිශික්ෂාවට අනුව බෙදා දක්වමින්, ශීලය ආර්ය මාර්ගයේ පදනම වන අයුරු පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

6. (i) 'දකුණු බිහාරය' නමින් හැඳින්වෙන රාජාණ්ඩු අතුරින් පළමුවැන්නට උතුර, නැගෙනහිර, බටහිර හා නිරිතදිග දේශසීමා ලියා දක්වන්න. (ලකුණු 04 යි)

(ii) බුදුසසුනේ ප්‍රථම ආරාම පූජාව, එය සිදු කළ රජතුමා, පාලන රාජධානිය හා එහි අගනගරය ලියා දක්වන්න. (ලකුණු 04 යි)

(iii) බුදුසසුනේ ප්‍රථම ආරාම පූජාව සිදු කළ රජතුමා එදින රාත්‍රියේ හඬා වැලපෙන නිරුවත් ප්‍රේතයන් සිහිනෙන් දැකීමට හේතු හා ඔවුන් සුවපත් කිරීමට අනුගමනය කළ ක්‍රියාමාර්ග විස්තර කරන්න. (ලකුණු 06 යි)

(iv) බුදුසසුනෙහි දානය, දායක පක්ෂයෙහි චිත්තපාරිශුද්ධිය සඳහා හේතු වන ආකාරය කුසල මූල සංකල්පයට අනුව සාකච්ඡා කරන්න. (ලකුණු 06 යි)

## III කොටස

7. (i) බුදුරජාණන් වහන්සේ වස් විසූ ස්ථාන හතරක් නම් කරන්න. (ලකුණු 04 යි)

(ii) බුදුරදුන් දවස ආරාම කරවා සසුනට පූජා කළ සිටුවරුන් හතරදෙනෙකු, ඔවුන් කරවූ ආරාමවල නම් සමග ලියා දක්වන්න. (ලකුණු 04 යි)

(iii) බුදුසසුනේ ශීඝ්‍ර ව්‍යාප්තිය උදෙසා සුදත්ත සිටුවරයාගේ ශාසනික සේවාව ඉවහල් වූ අයුරු විස්තර කරන්න. (ලකුණු 06 යි)

(iv) සිවුවනක් පිරිසෙහි උපාසක-උපාසිකා දෙපිරිසට අයත් ශාසනික කාර්යභාරය වන්නේ භික්ෂු, භික්ෂුණී උභය සංඝයා උදෙසා සිවුපසයෙන් ඇප උපස්ථාන කිරීම පමණක් දැයි විචාරයට ලක් කරන්න. (ලකුණු 06 යි)

8. (i) බුදුරජාණන් වහන්සේ අවසන් ජීවන චාරිකාවේ දී වැඩම කළ ස්ථාන හතරක් හා ඒ ඒ ස්ථානවල දී හමු වූවන් ලියා දක්වන්න. (ලකුණු 04 යි)

(ii) බුදුරජාණන් වහන්සේගේ ආදාහන පූජෝත්සවයෙන් පසු ධාතූන් වහන්සේලා බෙදා ගැනීමට අරගල කළ රාජදූතයන් සිවුදෙනෙකු නම් කරන්න. (ලකුණු 04 යි)

(iii) බුදුරජාණන් වහන්සේ තම ජීවිතයේ අවසන් දින කිහිපය ගත කළ ආකාරය කෙටියෙන් පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

(iv) බුදුරජාණන් වහන්සේගේ අවසන් බුද්ධ වචනය ලියා දක්වා, ඉන් ලෝකයා වෙත සපයන ආදර්ශය සාකච්ඡා කරන්න. (ලකුණු 06 යි)

9. (i) බුදුසසුනෙහි සිවුවනක් පිරිසෙහි අගතනතුරු ලැබූ ශ්‍රාවක-ශ්‍රාවිකාවන් සිවුදෙනෙකු නම් කරන්න. (ලකුණු 04 යි)

(ii) බුදුරදුන් එම ශ්‍රාවක-ශ්‍රාවිකාවන් වෙත ප්‍රදානය කළ අගතනතුරු පෙන්වා දෙන්න. (ලකුණු 04 යි)

(iii) සැරියුත් - මුගලන් අගසව් දෙදෙනා වහන්සේගේ ශාසනික සේවාව කෙටියෙන් අගයන්න. (ලකුණු 06 යි)

(iv) මහාකාශ්‍යප මහරහතන් වහන්සේ හා ආනන්ද මහරහතන් වහන්සේ සද්ධර්මයේ චිර පැවැත්ම උදෙසා අනුගමනය කළ ක්‍රියාමාර්ග සාකච්ඡා කරන්න. (ලකුණු 06 යි)

10. (i) බුදුසසුනෙහි උන්නතියට දායක වූ බුද්ධකාලීන උපාසක-උපාසිකාවන් සිවුදෙනෙකු නම් කරන්න. (ලකුණු 04 යි)

(ii) ධනංජය සිටුතුමා පතිකුලයට යන විශාඛා දියණියට ලබා දුන් අවවාදවල ඇතුළත් කරුණු හතරක් ලියා දක්වන්න. (ලකුණු 04 යි)

(iii) විශාඛා මහා උපාසිකාවගේ ශාසනික දායකත්වය කෙටියෙන් අගයන්න. (ලකුණු 06 යි)

(iv) බුදුසසුනේ චිර පැවැත්ම උදෙසා වර්තමාන උපාසක-උපාසිකාවන් සතු යුතුකම් හා වගකීම් විචාරයට ලක් කරන්න. (ලකුණු 06 යි)

❋ ❋ ❋